(නව නිර්දේශය/புதிய பாடத்திட்டம்/New Syllabus)

**NEW**

ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව
இலங்கைப் பரீட்சைத் திணைக்களம்
Department of Examinations, Sri Lanka

**84 | S | I, II**

අධ්‍යයන පොදු සහතික පත්‍ර (සාමාන්‍ය පෙළ) විභාගය, 2016 දෙසැම්බර්
கல்விப் பொதுத் தராதரப் பத்திர (சாதாரண தர)ப் பரீட்சை, 2016 டிசெம்பர்
**General Certificate of Education (Ord. Level) Examination, December 2016**

| | |
|---|---|
| ශිල්ප කලා | I, II |
| நுண்கலை | I, II |
| Arts and Crafts | I, II |

පැය තුනයි
மூன்று மணித்தியாலம்
*Three hours*

## ශිල්ප කලා I

**සැලකිය යුතුයි:**

(i) **සියලු ම** ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.

(ii) අංක **1** සිට **40** තෙක් ප්‍රශ්නවල, දී ඇති (1), (2), (3), (4) පිළිතුරුවලින් **නිවැරදි හෝ වඩාත් ගැළපෙන** පිළිතුර තෝරන්න.

(iii) **ඔබට සැපයෙන පිළිතුරු පත්‍රයේ එක් එක් ප්‍රශ්නය සඳහා දී ඇති කව අතුරෙන්, ඔබ තෝරා ගත් පිළිතුරෙහි අංකයට සැසඳෙන කවය තුළ (X) ලකුණ යොදන්න.**

(iv) එම උත්තර පත්‍රයේ පිටුපස, දී ඇති අනෙක් උපදෙස් ද සැලකිල්ලෙන් කියවා, ඒවා ද පිළිපදින්න.

---

**1.** ගොඩනැගී ඇති ආකාරය අනුව ජන කලා වර්ග කර දැක්වේ. නර්තනය හා ගායනය යන අංග දෙක ම ඇතුළත් ජනකලා විශේෂය හඳුන්වන්නේ,

(1) දෘශ්‍ය කලා ලෙසට ය. (2) ශ්‍රව්‍ය කලා ලෙසට ය.
(3) ශ්‍රව්‍ය හා දෘශ්‍ය කලා ලෙසට ය. (4) නිර්මාණ කලා ලෙසට ය.

**2.** පහත දී ඇති කඩ ඉරි රේඛා රූප සටහන සලකන්න.

කාර්මික ඇඳීම විෂයයෙහි දී භාවිත කරන සම්මත රේඛා වර්ග අතර ඉහත රූප සටහනේ දැක්වෙන රේඛාව භාවිත කරනු ලබන්නේ,

(1) වස්තුවක පෙනෙන දාර දැක්වීම සඳහා ය. (2) මධ්‍ය අක්ෂය සහ සමමිතික බව පෙන්වීම සඳහා ය.
(3) ඡේදනය කළ යුතු ස්ථාන දැක්වීම සඳහා ය. (4) සැඟවී දාර දැක්වීම සඳහා ය.

**3.** මෙහි දැක්වෙන ජ්‍යාමිතික නිර්මාණය කුමක් ද?




(1) AB රේඛාවේ ලම්බ සමච්ඡේදකය ඇඳීම
(2) D ලක්ෂ්‍යයේ සිට AB රේඛාවට ලම්බකයක් ඇඳීම
(3) C ලක්ෂ්‍යයේ සිට AB රේඛාවට ස්පර්ශකයක් ඇඳීම
(4) AB රේඛාවේ සිට C ලක්ෂ්‍යයට ලම්බකයක් ඇඳීම

**4.** එක්තරා ජ්‍යාමිතික රූපයක සම්මුඛ පාද සමාන හා සමාන්තර වේ. තව ද එහි සම්මුඛ කෝණ සමාන වන අතර විකර්ණ දිගින් අසමාන වේ. එම ජ්‍යාමිතික රූපය මින් කුමක් ද?

(1) ත්‍රපීසියම (2) ත්‍රිකෝණය (3) රොම්බසය (4) රොම්බාභය

**5.** පහතින් දැක්වෙන්නේ පියන රහිත පතුල පමණක් ඇති පෙට්ටියක ආකෘතියකි. මෙහි විකසනය නිවැරදිව දක්වා ඇති රූපය තෝරන්න.




(1)



(2)



(3)



(4)



[දෙවැනි පිටුව බලන්න.

**6.** ජල ටැංකියක සිටින මත්ස්‍යයකුට අදාළ ව ජ්‍යාමිතික හැඩතලවලින් නිර්මාණය කරන ලද රූපයක් මෙම කොටුව තුළ ඇත. මෙහි ඇති ජ්‍යාමිතික හැඩතල වන්නේ,



(1) ත්‍රිකෝණය, සෘජුකෝණාස්‍රය, වෘත්තය, ඉලිප්සය හා ත්‍රපීසියමයි.
(2) ත්‍රිකෝණය, සෘජුකෝණාස්‍රය, වෘත්තය, සමචතුරස්‍රය හා බහු අස්‍රයයි.
(3) ත්‍රිකෝණය, සමචතුරස්‍රය, වෘත්තය, ඉලිප්සය හා ආයත චතුරස්‍රයයි.
(4) ත්‍රිකෝණය, රොම්බසය, වෘත්තය, චතුරස්‍රය හා ඉලිප්සයයි.

**7.** පහත $A$, $B$, $C$ වෘත්ත තුන තුළ වෘත්තවල දැක්විය හැකි කොටස් නිරූපණය කර ඇති අතර $P$, $Q$, $R$ ලෙස අනුපිළිවෙළින් දක්වා ඇත්තේ එම වෘත්තවල කේන්ද්‍රයන් ය.




එම රූපවලින් දැක්වෙන්නේ,
(1) වෘත්ත ඛණ්ඩය, විෂ්කම්භය හා කේන්ද්‍රික ඛණ්ඩයයි.
(2) කේන්ද්‍රික ඛණ්ඩය, වෘත්ත ඛණ්ඩය හා විෂ්කම්භයයි.
(3) වෘත්ත පාදය, වෘත්ත ඛණ්ඩය හා විෂ්කම්භයයි.
(4) අර්ධ වෘත්තය, වෘත්ත ඛණ්ඩය හා විෂ්කම්භයයි.

**8.** පහත රූප සටහන්වලින් දැක්වෙන්නේ ජ්‍යාමිතික හැඩතල කිහිපයකි. මේ අතුරෙන් විෂම පාද ත්‍රිකෝණයක් වන්නේ කුමන රූපය ද?




(1) (2) (3) (4)

**9.** චතුරස්‍රයක එකිනෙකට සම්මුඛව පිහිටි ශීර්ෂ හෙවත් කෝණික ලක්ෂ්‍ය දෙකක් යා කෙරෙන සරල රේඛාව හඳුන්වන්නේ,
(1) සමච්ඡේදකය වශයෙනි. (2) ලම්බකය වශයෙනි.
(3) විකර්ණය වශයෙනි. (4) කේන්ද්‍රික ඛණ්ඩය වශයෙනි.

**10.** පහත රූප සටහනෙහි දැක්වෙන $ABCD$ සෘජුකෝණාස්‍රයේ $CD$ පාදය $E$ දක්වා දිගු කර, $AE$ යා කිරීමෙන් සෑදෙන $ABCE$ රූපය වන්නේ,




(1) පංචාස්‍රයකි.
(2) ආයත චතුරස්‍රයකි.
(3) රොම්බසයකි.
(4) ත්‍රපීසියමකි.

**11.** පින්සල්වලට අංක යොදන්නේ එහි ඇති කෙඳි ප්‍රමාණය අනුව ය. අංක 00 - 03 දක්වා අංක යොදා ඇති පින්සල් වඩාත් සුදුසු වන්නේ,
(1) තිත්, ඉරි, ඉම් රේඛා වැනි සියුම් දේ ඇඳීම සඳහා ය.
(2) සායම් සේදීම, මිශ්‍ර කිරීම වැනි පුළුල් ඇඳීම් සඳහා ය.
(3) මූලික ආලේපන ගැල්වීම සහ මහත රේඛා ඇඳීම සඳහා ය.
(4) විශාල ප්‍රදේශ වර්ණ ගැන්වීම සහ වර්ණ සේදුම සඳහා ය.

**12.** සායම්කරණයේ දී මූලික වර්ණ විවිධ අනුපාත අනුව මිශ්‍ර කර ගැනීමෙන් පුළුල් වර්ණාවලියක් ලබා ගත හැකි ය. දම් පැහැය ලබා ගැනීමට මිශ්‍ර කළ යුතු වන්නේ,
(1) රතු සහ කහ වර්ණ ය. (2) නිල් සහ රතු වර්ණ ය.
(3) කහ සහ නිල් වර්ණ ය. (4) කොළ සහ රතු වර්ණ ය.

**13.** සායම්කරණය සඳහා රෙදි සූදානම් කිරීමේ දී රෙදිවල ස්වාභාවික ව පවත්නා දුඹුරු පැහැය ඉවත් කර ගැනීමට භාවිත කරන පෙර පිරියම් ක්‍රමය වන්නේ,
(1) කැඳහරණයයි. (2) වාෂ්පීකරණයයි.
(3) මැලියම්හරණයයි. (4) විරංජනයයි.

/තුන්වැනි පිටුව බලන්න.

**14.** පහත දැක්වෙන්නේ පිළි අලංකරණයේ දී භාවිත කෙරෙන මුද්‍රණ තහඩු වර්ග දෙකකි. මේවා භාවිත කෙරෙන්නේ,
(1) ස්ටෙන්සිල් මුද්‍රණ ක්‍රමයේ දී ය.
(2) සිදුරු තහඩු මුද්‍රණ ක්‍රමයේ දී ය.
(3) අච්චු මුද්‍රණ ක්‍රමයේ දී ය.
(4) ගැටපඩු මුද්‍රණ ක්‍රමයේ දී ය.



**15.** තිරරාමු අලංකරණයේ දී රාමුවට සවි කරන තිරය සඳහා සායම් කෙරපා ගැනීමට හැකි වන ආකාරයේ රෙදි විශේෂයක් භාවිත කළ යුතු වේ. පහත රෙදි වර්ග අතුරෙන් ඒ සඳහා වඩාත් සුදුසු වන්නේ,
(1) වල්පිස් රෙදි ය. (2) ඕගන්ඩි රෙදි ය.
(3) පොප්ලින් රෙදි ය. (4) මස්ලින් රෙදි ය.

**16.** බතික් අලංකරණයේ දී මෝස්තර මතුකර ගැනීමට යොදන ඉටි මිශ්‍රණය ඒකාකාරී දියර තත්ත්වයක සිටින ලෙස උණුකර පවත්වා ගැනීමට කළ යුතු වන්නේ,
(1) උදුනක තබා මඳ උණුසුමේ දියකර ගැනීම ය.
(2) රසායනික දියරයක් භාවිතයෙන් දියකර ගැනීම ය.
(3) උණුසුම අඩු වැඩි කළ හැකි ලිපක තබා ගැනීම ය.
(4) ඉටි බඳුන උණු දිය බඳුනක බහා දිගටම උණුසුම් රඳවා ගැනීම ය.

**17.** පහත දැක්වෙන්නේ පිළි අලංකරණ ක්‍රියාවලියක අනුපිළිවෙළ ය.
(i) පෙරපිරියම් කළ රෙදිකඩ මුද්‍රණ තලය මත සවි කිරීම
(ii) සුදුසු තහඩුවක සිදුරු රටාවක් කපා ගැනීම
(iii) සිදුරු තහඩුව රෙදිකඩ මත සවිකර ගැනීම
(iv) සායම් ආලේප කර ගැනීම
(v) සිදුරු තහඩුව ඉවත් කර රෙදිකඩ පසුපිරියමකට ලක් කිරීම
මෙය කුමන පිළි අලංකරණ ක්‍රමය ද?
(1) ස්ටෙන්සිල් මුද්‍රණය (2) අච්චු මුද්‍රණය
(3) තිරරාමු මුද්‍රණය (4) තහඩු මුද්‍රණය

**18.** රෙදිපිළි අලංකරණයේ දී සායම් ආලේපනය, සායම් පෙවීම, මුද්‍රණය වැනි ක්‍රම රාශියක් භාවිත කෙරේ. රෙදිකඩ පුරා එකවර සායම් පැතිර යන අලංකරණ ක්‍රමය වන්නේ,
(1) සායම් ආලේපනය ය. (2) තිර රාමු මුද්‍රණ ක්‍රමය ය.
(3) සායම් පෙවීම ක්‍රමය ය. (4) අච්චු මුද්‍රණ ක්‍රමය ය.

**19.** සායම් භාවිතයෙන් කෙරෙන පිළි අලංකරණයේ දී අදාළ ක්‍රමයට අනුව සායම් භාවිතය විවිධ වේ. සායම්වලට ඝනකාරකයක් එකතු කළ යුතු වන්නේ,
(1) අච්චු මුද්‍රණ ක්‍රියාවලිය සඳහා ය. (2) තිර රාමු මුද්‍රණ ක්‍රියාවලිය සඳහා ය.
(3) බතික් මුද්‍රණ ක්‍රියාවලිය සඳහා ය. (4) අතින් පින්තාරු කිරීමේ ක්‍රියාවලිය සඳහා ය.

**20.** පිළි අලංකරණයේ දී සායම් භාවිතයෙන් අනතුරුව පසුපිරියම් ක්‍රම භාවිත කිරීම අනිවාර්ය වේ. පසුපිරියම්කරණයෙන් අපේක්ෂා කරන්නේ,
(1) වැඩිපුර ඇති සායම් ප්‍රමාණය ඉවත් කර ගැනීම ය.
(2) සායම්වල ඇති අපද්‍රව්‍ය ඉවත් කර ගැනීම ය.
(3) යොදන ලද සායම් ස්ථිර කර ගැනීම ය.
(4) රෙදිවල කල්පැවැත්ම තහවුරු කර ගැනීම ය.

**21.** වියමන් රටාවක නූල් මතුවීම විවිධ ලෙස සිදු කෙරේ. පහත දැක්වෙන වියමන් රටා අතුරෙන් 1/4 නූල් මතු වීම පෙන්නුම් කරන නිසි වියමන් රටාව තෝරන්න.


(1)


(2)


(3)


(4)

/හතරවැනි පිටුව බලන්න.

**22.** හැදයක් වියා ගැනීමේ දී එක් පුඩු ඇසකින් නූල් දෙක බැගින් ඇදීමත් විවීමේ දී හරස් නූල් දෙක බැගින් යෙදීමත් සිදු කෙරෙන වියමන් රටාව මින් කුමක් ද?



(1) සරල හීරි වියමන



(2) හරස්දාර වියමන



(3) දික්දාර වියමන



(4) ජරා වියමන

**23.** හැදයක් යන්ත්‍රගත කිරීමට පෙර කළ යුතු කාර්ය රාශියක් වෙයි. ඒ සඳහා විවිධ උපකරණ භාවිතයට ගැනේ. එතුම් රෝදය හා මල්වකුය භාවිත කෙරෙන්නේ,

(1) හැදය වට කඳට එතීම සඳහා ය. (2) දික් නූල් කුරුවලට නූල් ඔතා ගැනීම සඳහා ය.
(3) හැදයට සීරු යෙදීම සඳහා ය. (4) හැදය දික් දැමීම සඳහා ය.

**24.** විවීමේ දී යොදා ගන්නා හැදයට අනුව යොදා ගනු ලබන උපකරණ විවිධ වේ. දිගින් සහ පළලින් අඩු හැදයක් දික් දැමීම සඳහා භාවිත කිරීමට වඩාත් පහසු උපකරණය වන්නේ,

(1) දික් ගැසීමේ ලෑල්ල ය. (2) නූල් බෙත්ම ය.
(3) නූල් බේරය ය. (4) වට කඳ ය.

**25.** විවීමේ දී රටාවට අනුව නූල් ඇදීම සිදු කෙරෙන්නේ පුඩුවැල් පේළිවලිනි. හීරි වියමන් රටා වියා ගැනීම සඳහා භාවිත කළ යුතු අවම පුඩුවැල් සංඛ්‍යාව වන්නේ,

(1) 2 කි. (2) 3 කි. (3) 4 කි. (4) 5 කි.

**26.** පහත රූප සටහනෙන් දැක්වෙන්නේ ජවනඩා යන්ත්‍රයකට යොදනු ලබන උපාංගයකි. එය හඳුන්වන්නේ,

(1) සීරු පොල්ල නමිනි.
(2) පා පොල්ල නමිනි.
(3) හරස් පොල්ල නමිනි.
(4) ලීවරය නමිනි.



**27.** අංකය $2/60^s$ වන නූල් කිලෝ ග්‍රෑම් 03 ක ඇති නූල් කැරලි සංඛ්‍යාව කීය ද?

(1) 90 (2) 120 (3) 180 (4) 360

**28.** නූල් හැදයක දිග යාර 60කි. පළල සෙ.මී. 30කි. අංක $2/32^s$ දරණ නූල් 24ක් එක් සෙන්ටි මීටරයක් තුළ වේ. එම හැදයේ ඇති දික් නූල් පොටවල් ගණන වන්නේ,

(1) 700 කි. (2) 720 කි. (3) 800 කි. (4) 820 කි.

**29.** යන්ත්‍රගත කරන ලද නූල් හැදයක් වියා ගනු ලබන්නේ හරස් නූල් යෙදීම මගිනි. හරස් නූල් ගැසීම සඳහා ඔතන ලද නූල් කුරු සවිකරන උපකරණය වන්නේ,

(1) දික්නූල් කුරු රාක්කය ය. (2) එතුම් රාක්කය ය.
(3) නඩාව ය. (4) අළුව ය.

**30.** සරල හීරි වියමනට අනුව නූල් ඇදීම සිදු කර ඇති හැදයක් විවීමේ දී පාපොලු පෑගීම වෙනස් කර පාගා විවීමෙන් දඟරහීරි වියමන ගොඩනගා ගත හැකි ය. පහත රූප සටහන් අතුරෙන් දඟරහීරි වියමන තෝරන්න.



(1)



(2)



(3)



(4)

/පස්වැනි පිටුව බලන්න.

**31.** භාණ්ඩ නිපදවීමට භාවිත කෙරෙන මැටි හෙවත් ඇලුමිනා සිලිකේට් නිර්මාණය වීම සඳහා භෞතික, රසායනික සහ ජීව විද්‍යාත්මක හේතු බලපායි. මැටි අණුවක අන්තර්ගත සංයෝග වන්නේ,
(1) ඇලුමිනියම් ඔක්සයිඩ්, සිලිකන් ඩයොක්සයිඩ් සහ ජලයයි.
(2) සෝඩියම් සිලිකේට්, ඇලුමිනියම් ඩයොක්සයිඩ් සහ ජලයයි.
(3) ෆෙල්ඩ්ස්පාර්, ඩොලමයිට් සහ ජලයයි.
(4) ටයිටේනියම්, පොටෑසියම් සහ ජලයයි.

**32.** ප්‍රමිතිගත මැටි භාණ්ඩයක් නිපදවීම සඳහා මැටිවල අන්තර්ගත සංයෝග පිළිබඳව දැන සිටිය යුතු ය. සුවිකාර්යතාව අධික මැටිවලට නියම ප්‍රමිතිය ලබාදීම සඳහා එකතු කළ යුතු වන්නේ,
(1) මැග්නීසියම් අඩංගු කළු මැටි වැනි මැටි වර්ගයකි.
(2) ඇලෙනසුලු අමුද්‍රව්‍යයක් වන බෝල් මැටි වැනි මැටි වර්ගයකි.
(3) ෆෙල්ඩ්ස්පාර් සහ සිලිකා අඩංගු ගිනි මැටි වැනි මැටි වර්ගයකි.
(4) යකඩ ප්‍රතිශතය අඩු කෙඔලින් වැනි මැටි වර්ගයකි.

**33.** භාණ්ඩ නිපදවීමේ දී ප්‍රධාන ඇලෙනසුලු අමුද්‍රව්‍ය ලෙස කෙඔලින් මැටි භාවිත කෙරේ. කෙඔලින් මැටි භෞතිකව හඳුනාගත හැකි සාධක මොනවා ද?
(1) පිළිස්සීමට පෙර දුඹුරු වර්ණය ගත්ත ද පිළිස්සීමෙන් පසු සුදු පැහැති ය.
(2) පිළිස්සීමට පෙර අළු පැහැති වුව ද පිළිස්සීමෙන් පසු සුදු පැහැති ය.
(3) පිළිස්සීමට පෙර සහ පිළිස්සීමෙන් පසු ද පැහැදිලි සුදු පැහැයක් ඇත.
(4) පිළිස්සීමට පෙර සුදු පැහැති වුව ද පිළිස්සීමෙන් පසු විවිධ වර්ණ දැකිය හැකි ය.

**34.** අවශ්‍යතාවට අනුව මැටි භාණ්ඩ නිෂ්පාදන ක්‍රම භාවිතයට ගැනේ. එකම හැඩයේ එකම ප්‍රමාණයේ මැටි භාණ්ඩ රාශියක් අවශ්‍ය අවස්ථාවක ඒ සඳහා වඩාත් සුදුසු නිෂ්පාදන ක්‍රමය වන්නේ,
(1) සකපෝරුවේ ඉදි කිරීමයි. (2) තහඩු භාවිතයෙන් ගොඩනැගීමයි.
(3) අච්චු භාවිතයෙන් තැනීමයි. (4) මැටි දරණු යොදා සකස් කර ගැනීමයි.

**35.** පාසලට ඇතුළු වන ගේට්ටුව අසල තාප්පයේ රැඳවීමට මැටි මාධ්‍යයෙන් කරන කැටයමක් සඳහා වඩාත් සුදුසු ක්‍රමය වන්නේ,
(1) මැටි දරණු භාවිත කර ත්‍රිමාන හැඩයෙන් යුතුව කරන ලද නිර්මාණයකි.
(2) සකපෝරුවේ ඉදිකර ගත් විවිධ ප්‍රමාණයේ භාණ්ඩ ඇතුළත් නිර්මාණයකි.
(3) මැටි තහඩු භාවිතයෙන් කැටයම් ක්‍රම යොදා සකස් කළ නිර්මාණයකි.
(4) අතින් ඇඹීමේ ක්‍රමය භාවිත කර සකස් කර ගත් රූප ඇතුළත් නිර්මාණයකි.

**36.** සකපෝරුව භාවිත කර අලංකාර වූ වෘත්තාකාර මැටි බඳුන් ඉදි කරගනු ලැබේ. සකපෝරුවෙන් භාණ්ඩ ඉදි කිරීමේ පළමු පියවර වන්නේ,
(1) මැටි පිඩ සකපෝරුව මත සවි කිරීම ය. (2) මැටි පිඩ මධ්‍යගත කර ගැනීම ය.
(3) මැටි පිඩ විවෘත කිරීම ය. (4) මැටි පිඬේ වයනය ලබා ගැනීම ය.

**37.** භාණ්ඩ නිපදවීම සඳහා ඉහළ යකඩ ප්‍රතිශතයක් සහිත රතු මැටි බහුලව භාවිත කෙරෙන්නේ එහි ඇති සුවිකාර්යතාව නිසා ය. රතු මැටි පමණක් භාවිත කර නිපද වූ භාණ්ඩ ඇතුළත් කාණ්ඩය තෝරන්න.
(1) පිඟන්, පිරිසි කෝප්ප වැනි පෝසිලේන් භාණ්ඩ
(2) සෝදන බේසම්, නාන ටැංකි වැනි සනීපාරක්ෂක භාණ්ඩ
(3) බිම් ගඩොල්, පිඟන් ගඩොල් වැනි ඉදි කිරීම් ආශ්‍රිත භාණ්ඩ
(4) වළං, හට්ටි මුට්ටි වැනි මුළුතැන් ගෙයි භාණ්ඩ

**38.** උද්‍යාන අලංකරණ නිර්මාණයේ දී අව්වැසි, සුළං ආදී දේශගුණික විපර්යාසවලට ඔරොත්තු දිය හැකි ආකාරයේ නිර්මාණ සකස් කිරීමට භාවිත කළ හැකි අමුද්‍රව්‍යය කුමක් ද?
(1) මැටි (2) සිමෙන්ති (3) පල්ප (4) යකඩ

**39.** පෝර්ණුවක මැටි භාණ්ඩ පිළිස්සීමේ දී විවිධ අවස්ථා පසුකරමින් පිළිස්සීමේ ක්‍රියාවලිය නිමාවට පත්වෙයි. ඔක්සිකරණ අවස්ථාවේ දී සිදු වන්නේ,
(1) මැටි භාණ්ඩ පිළිස්සීමේ ආරම්භයයි.
(2) සංයෝග වී ඇති ජලය ඉවත්ව යන අවස්ථාවයි.
(3) මැටි භාණ්ඩවල වර්ණය වෙනස් වන අවස්ථාවයි.
(4) මැටි භාණ්ඩ හැකිලීම සිදුවන අවස්ථාවයි.

**40.** මැටි භාණ්ඩ අලංකරණය සඳහා විවිධ ක්‍රම භාවිතයේ පවතී. මේ අතුරෙන් ඩෙකෝපාජ් යනුවෙන් අදහස් කරනුයේ,
(1) පත්‍ර හෝ කඩදාසිවලින් කපා අලවා ගනිමින් සකස් කරන නිර්මාණයි.
(2) කඩදාසි අතින් ඉරා අලවා ගැනීමෙන් කරන නිර්මාණයි.
(3) වර්ණවත් සියුම් රේඛා මතු කර ගැනීමෙන් කරන නිර්මාණයි.
(4) කඩදාසි පල්ප භාවිතයෙන් කරන නිර්මාණයි.

* *

/හයවැනි පිටුව බලන්න.

නව නිර්දේශය/புதிய பாடத்திட்டம்/New Syllabus

NEW

ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව
இலங்கைப் பரீட்சைத் திணைக்களம்
Department of Examinations, Sri Lanka

84 | S | I, II

අධ්‍යයන පොදු සහතික පත්‍ර (සාමාන්‍ය පෙළ) විභාගය, 2016 දෙසැම්බර්
கல்விப் பொதுத் தராதரப் பத்திர (சாதாரண தர)ப் பரீட்சை, 2016 டிசெம்பர்
General Certificate of Education (Ord. Level) Examination, December 2016

ශිල්ප කලා I, II
நுண்கலை I, II
Arts and Crafts I, II

## ශිල්ප කලා II

※ **පළමුවැනි** ප්‍රශ්නය ද තෝරාගත් තවත් ප්‍රශ්න **හතරක්** ද ඇතුළු ව ප්‍රශ්න **පහකට** පිළිතුරු සපයන්න.

1. 'දිරිය දැනට සවිය' යන තේමාව යටතේ අධ්‍යාපන අමාත්‍යාංශය සහ කුඩා කර්මාන්ත දෙපාර්තමේන්තුව එක්ව සංවිධානය කර ඇති වෙළඳ ප්‍රදර්ශනය සහ අත්කම් තරගාවලිය 2016 දෙසැම්බර් 26 වන දින බත්තරමුල්ල අපේගම පියසේ දී පැවැත්වීමට කටයුතු යොදා ඇත.
   (i) මෙම ප්‍රදර්ශනයේ තේමා පාඨය ඇතුළත් ප්‍රචාරක දැන්වීමක ආකෘතියක් අඳින්න.
   (ii) ආරාධිත අමුත්තන්ට යැවීම සඳහා සුදුසු ආරාධනා පත්‍රයක ආකෘතිය ඇඳ දක්වන්න.
   (iii) දේශීය මල්, කොළ ආදිය භාවිතයෙන් සකස් කර ගත හැකි පොල්තෙල් පහනක දළ රූප සටහනක් අඳින්න.
   (iv) උත්සවයේ සංවිධායක මණ්ඩලයට පැළඳවීමට සුදුසු ලාංඡනයක් නිර්මාණය කරන්න.
   (v) ප්‍රදර්ශන භූමියේ ඉදිරිපස ඉදිකිරීමට සුදුසු තොරණක් ඇඳ දේශීය සැරසිලි මගින් අලංකාර කරන්න.
   (vi) නිවේදක පුවරුව අලංකාර කිරීමට සුදුසු සැරසිල්ලක් අඳින්න.
   (vii) අලංකරණය සඳහා සුදුසු ජ්‍යාමිතික හැඩතල සහිතව සකස් කළ හැකි රෙදි කැබලි ආශ්‍රිත නිර්මාණ **දෙකක්** නම් කරන්න.
   (viii) ප්‍රදර්ශන කුටියේ තැබිය හැකි ආකාරයේ විසිතුරු මැටි භාණ්ඩ අලංකාර කිරීමට යොදා ගත හැකි අලංකරණ ක්‍රම **දෙකක්** නම් කරන්න.
   (ix) උත්සවයෙන් ලැබෙන ආදායමෙන් 12% ක් සංවිධාන කමිටුවේ වැඩ සඳහා ලැබෙයි. ආදායම රු. 15000 වූයේ නම් සංවිධායක කමිටුවට ලැබෙන මුදල කීය ද?
   (x) උත්සවයේ කෙටි ආහාර පිරිනැමීම සඳහා සුදුසු කාඩ්බෝඩ් ඇසුරුමක රූපීය පෙනුම ඇඳ දක්වන්න.

2. රෙදි පිළි අලංකරණය කර ගැනීම සඳහා විවිධ ක්‍රම භාවිතයේ ඇත.
   (i) සායම් භාවිතයෙන් තොරව රෙදිපිළි අලංකාර කර ගන්නා ක්‍රම **දෙකක්** නම් කරන්න.
   (ii) අච්චුවක් භාවිත කර මුද්‍රා තබා අලංකාර කිරීමේ දී වෙනත් මුද්‍රණ ක්‍රමවලින් නොලැබෙන වාසි ලබා ගැනීමේ හැකියාව ඇත. එවැනි වාසි **දෙකක්** දක්වා, අච්චු මුද්‍රණ ක්‍රමයට භාවිත කළ හැකි මෝස්තරයක් අඳින්න.
   (iii) සකස් කර ඇති තිර රාමුවක් භාවිත කර, කුෂන් කවරයක් අලංකාර කර ගන්නා ආකාරය කෙටියෙන් දක්වන්න.

3. වර්තමානයේ විවිධ අලංකරණ ක්‍රම මගින් ද විශේෂිත සායම් වර්ග භාවිත කිරීම මගින් ද රෙදිපිළි අලංකාර කර ගැනේ.
   (i) අතින් පින්තාරු කිරීමේ දී වඩාත් හොඳ පින්සලක් තෝරා ගැනීම සඳහා සැලකිලිමත් විය යුතු කරුණු **දෙකක්** ලියන්න.
   (ii) සිදුරු තහඩු මුද්‍රණය සඳහා සුදුසු මෝස්තරයක් අඳින්න.
   (iii) ඕනෑම පිළි අලංකරණ ක්‍රමයකින් අලංකාර කර ගත් නිර්මාණයක් සඳහා යෙදිය හැකි පසුපිරියම් ක්‍රමයක් නම් කර එය ක්‍රියාත්මක කරන ආකාරය විස්තර කරන්න.

/හත්වැනි පිටුව බලන්න.

**4.** අත් යන්ත්‍රයක ආධාරයෙන් තුවා රෙදි වියා ගැනීමේ අරමුණෙන් සකස් කළ නූල් හැදයක දළ රූප සටහනක් සහිත තොරතුරු පහත දැක්වේ.




* හැදයේ දිග මීටර 100 කි.
* හැදයේ පළල සෙන්ටිමීටර 60 කි.
* එක් සෙන්ටිමීටරයක දික් නූල් පොටවල් ගණන 40 කි.
* නූලේ නොම්මරය $^{2}/_{40^s}$ කි.
* නූලේ වර්ණය සුදු ය.

(i) තුවා රෙදි විවීම සඳහා සුදුසු වියමන් රටා **දෙකක්** නම් කරන්න.

(ii) ඉහත (i) හි නම් කරන ලද වියමන් රටා දෙකෙහි නූල් මතුවීම් ප්‍රස්තාරගත කර දක්වන්න.

(iii) හැදය සකස් කිරීමට අවශ්‍ය සුදු නූල් ප්‍රමාණය ගණනය කරන්න.

**5.** රෙදි නිෂ්පාදනයේ දී යොදා ගන්නා යන්ත්‍ර ඒවායේ ක්‍රියාකාරිත්වය අනුව විවිධ වේ.

(i) මහාපරිමාණ කර්මාන්තශාලාවල භාවිත වන බලවේග යන්ත්‍ර මගින් රෙදි විවීමේ වාසි **දෙකක්** ලියන්න.

(ii) පුඩුවැල් පේළියක දළ රූප සටහනක් ඇඳ, එයින් කෙරෙන කාර්යයන් දක්වන්න.

(iii) නූල් එතීමේ උපකරණ කට්ටලය නම් කර, එය භාවිත කරන ආකාරය කෙටියෙන් විස්තර කරන්න.

**6.** භූගත සම්පතක් වන මැටි නිධි වශයෙන් පොළොවේ තැන්පත්ව ඇති අතර ඒවා හාරා පිටතට ගෙන පදම් කොට භාණ්ඩ නිෂ්පාදනයට භාවිත කෙරේ.

(i) මැටි පදම් කිරීමේ ක්‍රම කීයක් වේ ද? ඒ මොනවා ද?

(ii) පදම් මැටිවල තිබිය යුතු සුවිකාර්යතා ගුණය පැහැදිලි කරන්න.

(iii) මැටි භාණ්ඩ පිළිස්සීමෙන් පසු සිදුවන වෙනස්කම් **දෙකක්** දක්වා, එසේ වීමට හේතු පැහැදිලි කරන්න.

**7.** මැටි භාණ්ඩ අලංකරණය සඳහා පාරම්පරික ක්‍රම මෙන්ම නවීන ක්‍රම ද භාවිතයට පැමිණ ඇත.

(i) හම් පදම් අවස්ථාවේ දී මැටි භාණ්ඩවලට යෙදිය හැකි අලංකරණ ක්‍රම **දෙකක්** නම් කරන්න.

(ii) මැටි භාණ්ඩ අලංකාර කිරීමට භාවිත කෙරෙන නවීන අලංකරණ ක්‍රම **දෙකක්** දක්වා, එයින් එක් ක්‍රමයකින් මැටි භාණ්ඩයක් අලංකාර කර ගන්නා ආකාරය පැහැදිලි කරන්න.

(iii) උද්‍යාන අලංකරණයේ දී සැලකිලිමත් විය යුතු උද්‍යාන විද්‍යා මූලධර්ම **දෙකක්** නම් කර, ඒවා පිළිබඳ කෙටි සටහන් ලියන්න.

* * *